7405



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2556 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2012(2013)

**S 3**

## (03) ශාසන ඉතිහාසය

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **දෙකකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න **දෙකක්වත්** ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) ආත්මවාදය ප්‍රතික්ෂේප කිරීම සඳහා බුදුරජාණන් වහන්සේ පස්වග තවුසන් උදෙසා කළ දේශනය හා එහි අන්තර්ගතය කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)
   (ii) බුදුරජාණන් වහන්සේ තුළ පැවති මහා කරුණාව ප්‍රකට කෙරෙන අවස්ථා **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) බුදුරජාණන් වහන්සේගේ දේශනා මනෝවිද්‍යානුකූලව මෙන් ම පුද්ගල විවිධතා අනුව ගොඩ නැඟී තිබුණි. මේ ප්‍රකාශය සනාථ කරන්න. (ලකුණු 08 යි)

2. (i) බුදු සසුනට ඇතුළත් **නොකළයුතු** පුද්ගලයන්ගේ ලැයිස්තුවක් මහාවග්ග පාලියේ සඳහන් වේ. ඉන් **තිදෙනෙකු** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ii) සාමණේර පැවිද්ද සහ උපසම්පදාව කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) විනය නීති පැනවීමේ දී බුදුරජාණන් වහන්සේ ප්‍රජාතන්ත්‍රවාදී අදහස් කෙරෙහි අවධානය යොමු කළ බව නිදසුන් මගින් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

3. (i) දෙවන ධර්ම සංගායනාව පැවැත්වීමට බලපෑ හේතුව, ගතවූ කාලය, සහභාගීවූ මහරහතන් වහන්සේලා ප්‍රමාණය, ස්ථානය, අනුග්‍රහය දැක් වූ රජතුමා, ප්‍රධානත්වයගත් රහතන් වහන්සේ නම් කරන්න. (ලකුණු 06 යි)
   (ii) වජ්ජිපුත්තකාදීන් ඉදිරිපත් කළ දසවස්තුවෙන් **තුනක්** ලියා දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) දෙවන ධර්ම සංගායනාවේ ප්‍රතිඵල පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

4. (i) අශෝක ධර්මය පිළිබඳව උගතුන් **තිදෙනෙකු** පළ කළ අදහස් දක්වන්න. (ලකුණු 06 යි)
   (ii) සෙල්ලිපි ඇසුරින් අශෝක ධර්මය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) "ධර්මාශෝක රජතුමාගේ චරිතය ගැන කියවූ බොහෝ පඬිවරු එතුමාගේ චරිතය ලෝක ඉතිහාසයේ එන උදාර පුද්ගලයන්ගේ චරිත අභිබවා ඉදිරියෙන් සිටින බව සඳහන් කරති." නිදසුන් මගින් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

## II කොටස

5. (i) මිහිඳු මහරහතන් වහන්සේ දෙවනපෑතිස් රජුගේ බුද්ධිය සහ ධර්මාවබෝධ ශක්තිය විමසනු පිණිස යොදාගෙන ඇසූ ප්‍රශ්න සහ පිළිතුරු ද රජු ඇතුළු පිරිසට දේශනා කළ සූත්‍ර ධර්මය ද ලියා දක්වන්න. (ලකුණු 06 යි)
   (ii) එම සූත්‍රයේ අන්තර්ගත ධර්ම කරුණු ගෙනහැර දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) ලක්දිව සිදුකළ පළමු විනය සංගායනාව පිළිබඳ පැහැදිලි කිරීමක් කරන්න. (ලකුණු 08 යි)

6. (i) ලක්දිව ආරම්භ වූ භික්ෂුණී සමාජය පිළිබඳ තොරතුරු සඳහන් මූලාශ්‍රය **තුනක්** ලියන්න. (ලකුණු 06 යි)
   (ii) එම මූලාශ්‍රය සැලකිල්ලට ගනිමින් භික්ෂුණී සමාජයේ ආරම්භය සහ වර්ධනය සිදුවූ ආකාරය පිළිබඳ කෙටි සටහනක් ලියන්න. (ලකුණු 06 යි)
   (iii) ශ්‍රී ලාංකේය භික්ෂුණී සමාජයේ පරිහානියට බලපෑ හේතු දක්වන්න. (ලකුණු 08 යි)

[ දෙවැනි පිටුව බලන්න

(අ) මාතලේ අලුවිහාරයේදී ප්‍රථම ත්‍රිපිටක ග්‍රන්ථාරූඪ කිරීම සිදුකළ ස්ථානය සහ එකල සිටි රජතුමාගේ නම ලියා දක්වන්න.

(ආ) ඒ සඳහා බලපෑ විවිධ හේතු කෙටියෙන් සඳහන් කරන්න.

(ඇ) ථෙරවාදී සම්ප්‍රදායේ සහ පාලි සාහිත්‍යයේ උන්නතියට මෙම සංගීතිය මහත් අනුබලයක් විය. මේ ප්‍රකාශය සනාථ කරන්න.

8. පහත සඳහන් මාතෘකා අතුරෙන් **හතරක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) කණිෂ්ක රජතුමා

(ii) යස මහරහතන් වහන්සේ

(iii) වජ්ජි ජනපදය

(iv) බුදුරජාණන් වහන්සේ තුළ පැවති තාදි ගුණය හෙළිවන අවස්ථා

(v) මුරගල්

(vi) පොලොන්නරු දළදා මාලිගාව

(vii) සංඝමිත්තා මහරහත් මෙහෙණින්වහන්සේ

(viii) මහාදේව තෙරුන්වහන්සේ

(ලකුණු 5 × 4 = 20 යි)

* * *